8962



ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

**2560 - දහම් පාසල් අවසාන සහතික පත්‍ර විභාගය - 2016(2017)** **S2**

**(02) බුද්ධ ධර්මය හා පාලි භාෂා පරිචය**

පැ තුනයි

මෙම ප්‍රශ්න පත්‍රය කොටස් **තුනකින්** සමන්විත වේ. යටත් පිරිසෙයින් **එක්** කොටසකින් **එක්** ප්‍රශ්නයක්වත් ඇතුළත් වන සේ තෝරාගෙන ප්‍රශ්න **පහකට පමණක්** පිළිතුරු සපයන්න.

## I කොටස

1. (i) ආර්ය සත්‍ය විෂයෙහි දී නිවන හඳුන්වන නම ලියන්න. (ලකුණු 02 යි)
   (ii) නිවන අසංඛත ධර්මයක් ලෙසින් හඳුන්වන්නේ කවර හේතුවක් නිසා දැයි පහදා දෙන්න. (ලකුණු 04 යි)
   (iii) නිර්වාණාවබෝධය ලත් පුද්ගලයන් හඳුන්වන නම් ලියා, සෝවාන් මාර්ග ඥානයෙන් ප්‍රහීණ කරන සංයෝජන ධර්ම නම් කරන්න. (ලකුණු 06 යි)
   (iv) පරිනිර්වාණ අවස්ථා දෙක සඳහන් කර, ඒ දෙකෙහි වෙනස කවරේ දැයි පැහැදිලි කරන්න. (ලකුණු 08 යි)

2. (i) ආර්ය අෂ්ටාංගික මාර්ගයට අයත් අංග දක්වන්න. (ලකුණු 02 යි)
   (ii) එම අංග අට ත්‍රිශික්ෂාවට ඇතුළත් වන සේ බෙදා දක්වන්න. (ලකුණු 04 යි)
   (iii) දුක නැති කිරීමේ ප්‍රතිපදාව හැඳින්වෙන නම ලියා, එයින් ප්‍රතික්ෂිප්ත අන්ත දෙකේ ස්වභාවය හඳුන්වන්න. (ලකුණු 06 යි)
   (iv) අන්තවාදීව ක්‍රියා කිරීම පුද්ගල හා සමාජ පරිහානියට හේතු වන ආකාරය පෙන්වා දෙන්න. (ලකුණු 08 යි)

3. (i) ත්‍රිලක්ෂණය නම් කරන්න. (ලකුණු 02 යි)
   (ii) ඒවායින් දෙකක් හඳුන්වන්න. (ලකුණු 04 යි)
   (iii) සංඛත ධර්මයන්ගේ ස්වභාවය හඳුන්වා, ඒවායේ ඇති එකම ලක්ෂණය කවරේ දැයි පෙන්වා දෙන්න. (ලකුණු 06 යි)
   (iv) 'තමා අයත් නොවන්නක් තමා අයත්ය' යන වැරදි අල්ලා ගැනීම නිසා පුද්ගලයා මංමුළාවට පත්ව ඇත. මෙහි සත්‍යතාව පැහැදිලි කරන්න. (ලකුණු 08 යි)

4. (i) කුසල, අකුසල කර්ම රැස් කරන ප්‍රධාන දොරටු තුන නම් කරන්න. (ලකුණු 02 යි)
   (ii) එම දොරටු තුනට ඇතුළත් වන පරිදි දශ අකුසල කර්මපථ බෙදා දක්වන්න. (ලකුණු 04 යි)
   (iii) එම අකුසල කර්මපථ සිදු කිරීමේ දී මූලිකත්වය ගන්නා චෛතසිකය නම් කර, අකුසල මූලයන් වෙන් වෙන් වශයෙන් හඳුන්වන්න. (ලකුණු 06 යි)
   (iv) හොඳ-නරක, යහපත-අයහපත මනාව තේරුම් ගැනීමෙන් සුරක්ෂිත ජීවිතයක් ගත කිරීම සඳහා බෞද්ධ කර්ම සංකල්පයෙන් ලැබෙන අනුබලය පැහැදිලි කරන්න. (ලකුණු 08 යි)

[ දෙවන පිටුව බලන්න.

## II කොටස

**5.** (i) සමථ භාවනාව සඳහා උපයෝගී කර ගන්නා ආර්ය අෂ්ටාංගික මාර්ගයට අයත් අංග දෙක නම් කරන්න. *(ලකුණු 02 යි)*

(ii) සමථ භාවනාවට අයත් කර්මස්ථාන සංඛ්‍යාව ලියා, සම්බෝධි ඥානය සඳහා බෝසතාණන් වහන්සේ ක්‍රියාත්මක කළ භාවනාව කුමක් දැයි පෙන්වා දෙන්න. *(ලකුණු 04 යි)*

(iii) සමථ භාවනා මාර්ගයෙන් ලද හැකි උසස් ප්‍රතිඵලයක් වූ පංච අභිඥා ලියා දක්වන්න. *(ලකුණු 06 යි)*

(iv) 'හිත හික්මවා ගැනීමට පමණක් නොව, මානසික ඒකාග්‍රතාවට හා චිත්ත පාරිශුද්ධියට ද භාවනාවෙන් ලැබෙන්නේ මහත් අනුබලයකි.' මේ සඳහා කරුණු ගෙනහැර දක්වන්න. *(ලකුණු 08 යි)*

**6.** (i) චෛතසිකයන්ගේ ප්‍රධාන ලක්ෂණ හතර ගෙනහැර දක්වන්න. *(ලකුණු 02 යි)*

(ii) චෛතසික යනු කවරේ දැයි පහදා, ඒවා ඇතුළත් ප්‍රධාන බෙදීම් සංඛ්‍යා සමග ඉදිරිපත් කරන්න. *(ලකුණු 04 යි)*

(iii) විරතිත්‍රය දක්වා, ඒවා පිළිබඳ හැඳින්වීමක් කරන්න. *(ලකුණු 06 යි)*

(iv) සබ්බචිත්ත සාධාරණ චෛතසික නම් කර, එම නම ව්‍යවහාර කිරීමට හේතුව පෙන්වා දෙන්න. *(ලකුණු 08 යි)*

## III කොටස

**7.** පහත සඳහන් පාලි ගාථා සිංහලට නගන්න.

(i) "අධිවාසේතු නෝ භන්තේ - භෝජනං පරිකප්පිතං
අනුකම්පං උපාදාය - පතිගණ්හාතු මුත්තම"

(ii) "කායේන වාචා චිත්තේන - පමාදේන මයා කතං
අච්චයං ඛම මෙ භන්තේ - භූරිපඤ්ඤ තථාගත"

(iii) "ඉමිනා පුඤ්ඤකම්මේන - මා මේ බාල සමාගමෝ
සතං සමාගමෝ හෝතු - යාව නිබ්බාන පත්තියා"

(iv) "යාවජීවම්පි චේ බාලෝ - පණ්ඩිතං පයිරුපාසති
න සෝ ධම්මං විජානාති - දබ්බී සූපරසං යථා"

(v) "මධුවා මඤ්ඤති බාලෝ - යාව පාපං න පච්චති
යදාච පච්චති පාපං - අථ බාලෝ දුක්ඛං නිගච්ඡති"

*(ලකුණු 04 × 5 = 20 යි)*

**8.** පහත දැක්වෙන පාලි වාක්‍ය සිංහලට නගන්න.

(i) ඉතිපි සෝ භගවා අරහං සම්මා සම්බුද්ධෝ

(ii) ඒවං මේ සුතං. ඒකං සමයං භගවා සාවත්ථියං විහරති ජේතවනේ අනාථපිණ්ඩිකස්ස ආරාමේ.

(iii) නහනූන සො භික්ඛවෙ භික්ඛු චත්තාරි අහිරාජකුලානි මෙත්තෙන චිත්තෙන ඵරෙය්‍ය.

(iv) විහාරදේවී ධඤ්ඤපුඤ්ඤ ලක්ඛණ සම්පන්නං පුත්තං විජායි.

(v) තං සුත්වා තේ කොට්ඨාසද්වයං අමතං විය පරිභුඤ්ජිංසු.

*(ලකුණු 04 × 5 = 20 යි)*

***